

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව

අ.පො.ස. (උ.පෙළ) විභාගය - 2022(2023)

# 22 - භූගෝල විද්‍යාව

## ලකුණු දීමේ පටිපාටිය



මෙය උත්තරපත්‍ර පරීක්ෂකවරුන්ගේ ප්‍රයෝජනය සඳහා සකස් කෙරිණි.
ප්‍රධාන/ සහකාර පරීක්ෂක රැස්වීමේ දී ඉදිරිපත්වන අදහස් අනුව මෙහි වෙනස්කම් කරනු ලැබේ.

# උත්තරපත්‍ර ලකුණු කිරීමේ පොදු ශිල්පීය ක්‍රම

උත්තර පත්‍ර ලකුණු කිරීමේ හා ලකුණු ලැයිස්තුවල ලකුණු සටහන් කිරීමේ සම්මත ක්‍රමය අනුගමනය කිරීම අනිවාර්යයෙන්ම කළ යුතුවේ. ඒ සඳහා පහත පරිදි කටයුතු කරන්න.

1. උත්තර පත්‍ර ලකුණු කිරීමට රතුපාට බෝල් පොයින්ට් පෑනක් පාවිච්චි කරන්න.

2. සෑම උත්තර පත්‍රයකම මුල් පිටුවේ සහකාර පරීක්ෂක සංකේත අංකය සටහන් කරන්න. ඉලක්කම් ලිවීමේදී පැහැදිලි ඉලක්කමෙන් ලියන්න.

3. ඉලක්කම් ලිවීමේදී වැරදුණු අවස්ථාවක් වේ නම් එය පැහැදිලිව තනි ඉරකින් කපා හැර නැවත ලියා කෙටි අත්සන යොදන්න.

4. එක් එක් ප්‍රශ්නයේ අනු කොටස්වල පිළිතුරු සඳහා හිමි ලකුණු ඒ ඒ කොටස අවසානයේ △ක් තුළ ලියා දක්වන්න. අවසාන ලකුණු ප්‍රශ්න අංකයත් සමග □ක් තුළ, භාග සංඛ්‍යාවක් ලෙස ඇතුළත් කරන්න. ලකුණු සටහන් කිරීම සඳහා පරීක්ෂකවරයාගේ ප්‍රයෝජනය සඳහා ඇති තීරුව භාවිත කරන්න.

**උදාහරණ :ප්‍රශ්න අංක 03**

(i) ..................................................... ✓

.....................................................

..................................................... 

(ii) ..................................................... ✓

.....................................................

..................................................... 

(iii) ..................................................... ✓

.....................................................

..................................................... 

(03) (i) $\frac{4}{5}$ + $\frac{3}{5}$ (ii) $\frac{3}{5}$ + (iii) = $\boxed{\frac{10}{15}}$

**බහුවරණ උත්තර පත්‍ර : (කවුළු පත්‍රය)**

1. අ.පො.ස. (උ.පෙළ) හා තොරතුරු තාක්ෂණ විභාගය සඳහා කවුළු පත්‍ර දෙපාර්තමේන්තුව මගින් සකසනු ලැබේ. නිවැරදි වරණ කපා ඉවත් කළ සහතික කරන ලද කවුළුපතක් ඔබ වෙත සපයනු ලැබේ. සහතික කළ කවුළු පත්‍රයක් භාවිත කිරීම පරීක්ෂකගේ වගකීම වේ.

2. අනතුරුව උත්තරපත්‍ර හොඳින් පරීක්ෂා කර බලන්න. කිසියම් ප්‍රශ්නයකට එක් පිළිතුරකට වඩා ලකුණු කර ඇත්නම් හෝ එකම පිළිතුරක්වත් ලකුණු කර නැත්නම් හෝ වරණ කැපී යන පරිදි ඉරක් අඳින්න. ඇතැම් විට අයදුම්කරුවන් විසින් මුලින් ලකුණු කර ඇති පිළිතුරක් මකා වෙනත් පිළිතුරක් ලකුණු කර තිබෙන්නට පුළුවන. එසේ මකන ලද අවස්ථාවකදී පැහැදිලිව මකා නොමැති නම් මකන ලද වරණය මත ද ඉරක් අඳින්න.

3. කවුළු පත්‍රය උත්තරපත්‍රය මත නිවැරදිව තබන්න. නිවැරදි පිළිතුර ✓ ලකුණකින් ද, වැරදි පිළිතුර 0 ලකුණකින් ද වරණ මත ලකුණු කරන්න. නිවැරදි පිළිතුරු සංඛ්‍යාව ඒ ඒ වරණ තීරයට පහළින් ලියා දක්වන්න. අනතුරුව එම සංඛ්‍යා එකතු කර මුළු නිවැරදි පිළිතුරු සංඛ්‍යාව අදාළ කොටුව තුළ ලියන්න.

29. පිටතට සිදුවන ශ්‍රම සංක්‍රමණය නිසා ශ්‍රී ලංකාව වැනි රටකට ලැබෙන වාසියක් වන්නේ,
   (1) මහා පරිමාණ කර්මාන්තවල මුදල් ආයෝජනයට යොමුවීම ය.
   (2) රටට වඩාත් ගැළපෙන තාක්ෂණය ගෙනඒම ය.
   (3) රටේ ඒක පුද්ගල ආදායම කැපී පෙනෙන අයුරින් වැඩිවීම ය.
   (4) පවුල තුළ සහ පවුල් අතර සබඳතා ශක්තිමත් වීම ය.
   (5) සේවාවියුක්ති ගැටලුවට විසඳුමක් වීම ය. (......)

30. හරිත විප්ලවයේ අහිතකර පාරිසරික ප්‍රතිඵලයක් වන්නේ,
   (1) ගොවීන් අතර ආර්ථික විෂමතා පැනනැගීම ය.
   (2) දිළිඳු ගොවීන් ණය ගැති වීම ය.
   (3) කෘෂි යෙදවුම්වල මිල ඉහළ යාම ය.
   (4) ආහාරයට ගත හැකි කොළ එළවළු වර්ග විනාශ වීම ය. (......)
   (5) බහු ජාතික සමාගම් බලවත් වීම ය.

31. ඓන්ද්‍රිය කෘෂිකර්මය මගින් තහවුරු කරනු ලබන ප්‍රතිලාභ දෙකක් වන්නේ,
   (1) පසෙහි ගුණාත්මකභාවය ආරක්ෂා වීම සහ ජනතාවගේ යහපත් සෞඛ්‍ය තහවුරු කිරීමයි.
   (2) ජලයේ ගුණාත්මකභාවය ආරක්ෂා වීම සහ ජලයේ අපධාවය වැඩිවීමයි.
   (3) නිෂ්පාදනවල අඩු වෙළෙඳපළ මිල සහ පාරිසරික ආරක්ෂණයයි.
   (4) කෘත්‍රිම ක්‍රම මගින් පස සරු කිරීම සහ ජෛවවිවිධත්වය සුරැකීමයි.
   (5) අස්වැන්නේ ශීඝ්‍ර වර්ධනය සහ ඉහළ ආදායම් ජනනයයි. (......)

32. සංවර්ධනය වන රටවල නාගරීකරණය ආශ්‍රිත ගතිලක්ෂණ තුනක් වන්නේ,
   (1) වාහන තදබදය, නිවාස හිඟය සහ අඩු ජන ඝනත්වයයි.
   (2) වාහන තදබදය, නිවාස හිඟය සහ කෘෂිකාර්මික ඉඩම් පරිහරණය වැඩි වීමයි.
   (3) ඝන අපද්‍රව්‍ය වැඩිවීම, අපරාධ වැඩි වීම සහ බෝවන රෝග අඩු මට්ටමක පැවතීමයි.
   (4) වාහන තදබදය, මුඩුක්කු හා පැල්පත්වල වර්ධනය සහ අපරාධ වැඩි වීමයි.
   (5) නිවාස හිඟය, වායු දූෂණය සහ කෘෂිකාර්මික ඉඩම් පරිහරණය වැඩි වීමයි. (......)

33. ශ්‍රී ලංකාවේ උක් සීනි වගාව කෙරෙන ප්‍රධාන දිස්ත්‍රික්ක දෙකක් දැක්වෙන වරණය කුමක් ද?
   (1) මොණරාගල සහ පොලොන්නරුව (2) මොණරාගල සහ අම්පාර
   (3) ත්‍රිකුණාමලය සහ කිලිනොච්චි (4) හම්බන්තොට සහ අම්පාර
   (5) හම්බන්තොට සහ ත්‍රිකුණාමලය (......)

34. ජන හා සංඛ්‍යාලේඛන දෙපාර්තමේන්තුවට අනුව 2012 වර්ෂයේ දී ශ්‍රී ලංකාවේ දෙවන ඉහළම නාගරික ජනසංඛ්‍යා ප්‍රතිශතය සහිත දිස්ත්‍රික්කය වූයේ,
   (1) මාතලේ ය. (2) යාපනය ය.
   (3) මඩකලපුව ය. (4) මාතර ය.
   (5) කළුතර ය. (......)

35. ලෝකයේ පෙට්‍රෝලියම් අපනයනය කරන ප්‍රධාන රටවල් තුනක් වන්නේ,
   (1) එක්සත් අරාබි එමීර් රාජ්‍යය, නයිජීරියාව සහ වෙනිසියුලාවයි.
   (2) රුසියාව, ලිබියාව සහ යුක්රේනයයි.
   (3) රුසියාව, එක්සත් අරාබි එමීර් රාජ්‍යය සහ නයිජීරියාවයි.
   (4) නයිජීරියාව, රුසියාව සහ ලිබියාවයි.
   (5) රුසියාව, එක්සත් අරාබි එමීර් රාජ්‍යය සහ චීනයයි. (......)

36. එක්සත් ජාතීන්ට අනුව ලෝකයේ අඩුම නාගරීකරණයක් සහිත රටවල් දෙකක් වන්නේ,
   (1) මලාවි සහ උරුගුවේ ය.
   (2) ශ්‍රී ලංකාව සහ කටාර් ය.
   (3) නේපාලය සහ වර්ජින් දූපත් ය.
   (4) බුරුන්ඩි සහ පැපුවා නිව්ගිනියාව ය.
   (5) සාන්ත ලූසියා සහ කුවේට් ය. (......)

# අ.පො.ස. (උ.පෙළ) විභාගය - 2022(2023)

## ලකුණු දීමේ පටිපාටිය

### II කොටස

1. ශ්‍රී ලංකා මිනින්දෝරු දෙපාර්තමේන්තුව මඟින් ප්‍රකාශයට පත් කරන ලද 1:50 000 පරිමාණයේ රක්වාන භූ ලක්ෂණ සිතියමෙන් කොටසක් ඔබට සපයා ඇත. එහි සමෝච්ඡ රේඛා අන්තරය මීටර 20 ලෙස දක්වා ඇත. එම සිතියම පාදක කර ගනිමින් පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

> **සැලකිය යුතුයි:**
> ❋ **ප්‍රශ්නයට අදාළ අංකය සහ** අදාළ **උප කොටස්වල අංක**, පිළිතුරු පත්‍රයේ පැහැදිලි ව සඳහන් කළ යුතු ය.
> ❋ **පිළිතුරු භූ ලක්ෂණ සිතියමෙහි ලිවිය යුතු නොවේ.**
> ❋ සපයා ඇති භූ ලක්ෂණ සිතියම ඔබේ පිළිතුරු පත්‍රයට ඇමිණිය යුතු නොවේ.

(i) සිතියම් ප්‍රදේශයේ ඉහළම උන්නතාංශය පෙන්නුම් කරන ත්‍රිකෝණමිතික ස්ථානයේ උස දක්වන්න.

519.99/519 m

(ලකුණු 01 යි)

(ii) සිතියම් ප්‍රදේශයේ අඩුම උන්නතාංශය පෙන්නුම් කරන ලක්ෂ්‍යයේ තැන් උස දක්වන්න.

135 m

(ලකුණු 01 යි)

(iii) Ⓐ සහ Ⓑ චතුරස්‍ර තුළ දක්නට ලැබෙන ජලවහන ලක්ෂණ දෙක අනුපිළිවෙළින් නම් කරන්න.

A - ගංදෙණරය

B - ශාඛික ජලවහන රටාව

(ලකුණු 01 x 2 = 02 යි)

(iv) Ⓒ සිට Ⓓ දක්වා විහිදෙන ප්‍රධාන මාර්ගයේ දුර කිලෝමීටරවලින් දක්වන්න.

8.5/9.0 - 9.2 km

(ලකුණු 01 යි)

(v) Ⓔ සහ Ⓕ චතුරස්‍ර තුළ දක්නට ලැබෙන සංස්කෘතික ලක්ෂණ දෙක අනුපිළිවෙළින් නම් කරන්න.

E – අඩිපාර/චේත

F – වන රක්ෂිත/අභයභූමි

(ලකුණු 01 x 2 = 02 යි)

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2022(2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2022(2023)
General Certificate of Education (Adv. Level) Examination, 2022(2023)

ප්‍රශ්න අංකය / வினா இல. / Question No. } 2

භූගෝල විද්‍යාව / புவியியல் / Geography

II කොටස / பகுதி II / PART II

22 STE I

විභාග අංකය / சுட்டெண் / Index No ……………………………



(iv) ඔබ නිර්මාණය කළ විසරණ සටහනෙන් පෙන්නුම් කරන පරිදි ශ්‍රී ලංකාවේ දළ උපත් අනුපාතිකයෙහි දිස්ත්‍රික්ක ව්‍යාප්තියේ කැපී පෙනෙන ලක්ෂණ හතරක් සඳහන් කරන්න.

- ශ්‍රී ලංකාවේ දිස්ත්‍රික්ක මට්ටමේ දළ උපත් අනුපාතිකයෙහි අවම අගය 9.8 වේ
- ශ්‍රී ලංකාවේ දිස්ත්‍රික්ක මට්ටමේ දළ උපත් අනුපාතිකයෙහි උපරිම අගය 21.0 වේ
- එය ශ්‍රී ලංකාවේ අසමාන දළ උපත් අනුපාතිකයෙහි ව්‍යාප්ති රටාව පැහැදිලිව පෙන්නු කරයි
- ඉහළ චතුර්ථකය ($Q_3$) සහ පහළ චතුර්ථකය ($Q_1$) මත දිස්ත්‍රික්ක 5 සහ 6 බැගින් අ පිළිවෙලින් පිහිටයි.
- දිස්ත්‍රික්ක 14 ක් අන්තර් චතුර්ථක පරාසය තුළ පවතී. ($Q_3$) සහ ($Q_1$) අතර.
- $Q_2$ සහ $Q_1$ අතර ඇති දිස්ත්‍රික්ක 6ක් හා $Q_2$ සහ $Q_3$ අතර දිස්ත්‍රික්ක 06ක් පවතී. එ වුවත් $Q_2$ සහ $Q_1$ අතර දිස්ත්‍රික්කවල වැඩි කේන්ද්‍ර ගත වීමක් ද, $Q_2$ සහ $Q_3$ අතර අ කේන්ද්‍රගත වීමක් ද දක්නට ඇත.

(ලකුණු 04

6. වගුව 2 හි දක්වා ඇති දත්ත ඇසුරින් පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

වගුව 2 : ශ්‍රී ලංකාවේ පළාත් සහ ජාතික පාසල්වල ගුරුවරුන් සංඛ්‍යාව පළාත් අනුව - 2020

| පළාත | පළාත් පාසල් ගුරුවරුන් සංඛ්‍යාව | ජාතික පාසල් ගුරුවරුන් සංඛ්‍යාව |
|---|---|---|
| බස්නාහිර | 35 745 | 10 934 |
| මධ්‍යම | 29 939 | 5 128 |
| දකුණ | 24 168 | 7 336 |
| උතුර | 16 767 | 1 957 |
| නැගෙනහිර | 20 154 | 3 851 |
| වයඹ | 25 504 | 4 362 |
| උතුරු මැද | 15 765 | 1 622 |
| ඌව | 17 666 | 3 130 |
| සබරගමුව | 22 248 | 3 758 |

මූලාශ්‍රය : වාර්ෂික පාසල් සංගණනය - 2020

(i) වගුව 2 හි දක්වා ඇති දත්ත නිරූපණය කිරීම සඳහා ද්විත්ව තීරු ප්‍රස්තාරයක් නිර්මාණය කරන්න (මේ සඳහා සපයා ඇති ප්‍රස්තාර කඩදාසියක් යොදා ගන්න).

ගුරුවරුන් සංඛ්‍යාව - 2020




වාර්ෂික පාසැල් සංගණනය, 2020

(ලකුණු 08 යි)

| | |
|---|---|
| මාතෘකාව | 0.5 |
| මූලාශ්‍රය | 0.5 |
| x සහ y අක්ෂ | 2.0 |
| තීරු නිර්මාණයට , (වර්ණ සහ තීරු අතර පරතර) | 2.0 + 2.0 |
| සූචකය | 1.0 |
| මුළු ලකුණු | 8.0 |

(ii) ඔබ නිර්මාණය කළ ප්‍රස්තාරය පදනම් කර ගනිමින් ශ්‍රී ලංකාවේ පළාත් සහ ජාතික පාසල්වල ගුරුවරුන් සංඛ්‍යාවේ ව්‍යාප්ති ලක්ෂණ හතරක් සඳහන් කරන්න.

- පළාත් පාසැල්වල ගුරුවරුන් සංඛ්‍යාව ජාතික මට්ටමේ පාසැල්වල ගුරුවරුන්ට වඩා වැඩිවේ
- ජාතික මට්ටමේ පාසැල් ගුරුවරුන් වැඩිම සංඛ්‍යාවක් සිටින්නේ බස්නාහිර සහ දකුණු පළාත්වල ය.
- පළාත් මට්ටමේ ගුරුවරුන් වැඩිම සංඛ්‍යාවක් සිටින්නේ බස්නාහිර සහ මධ්‍යම පළාත්වල ය.
- අතරමැද මට්ටමේ පළාත් ගුරුවරුන් සංඛ්‍යාවක් වයඹ සහ දකුණු පළාත්වල සිටී.
- ජාතික හා පළාත් මට්ටමේ ගුරුවරුන් අඩුම සංඛ්‍යාවක් උතුරු මැද පළාතේ සිටී.
- සාමාන්‍යයෙන්, සියලුම පළාත්වල පළාත් මට්ටමේ ගුරුවරුන් සංඛ්‍යාව ජාතික පාසැල් ගුරුවරුන්ට වඩා තුන් ගුණයකින් පමණ වැඩිවේ.

(ලකුණු 04 යි)

5. 1981-2021 කාල පරිච්ඡේදය තුළ ශ්‍රී ලංකාවේ පළාත් අනුව ජන ඝනත්වය, වගුව 1 හි දක්වා ඇත.

**වගුව 1: ශ්‍රී ලංකාවේ පළාත් අනුව ජන ඝනත්වය, 1981-2021**

| පළාත | වර්ෂය | | | |
|---|---|---|---|---|
| | 1981 | 2001 | 2012 | 2021 (ඇස්තමේන්තුගත) |
| බස්නාහිර | 1064 | 1461 | 1588 | 1688 |
| මධ්‍යම | 354 | 427 | 453 | 495 |
| දකුණ | 340 | 411 | 447 | 486 |
| සබරගමුව | 298 | 363 | 388 | 420 |
| වයඹ | 216 | 275 | 302 | 329 |
| නැගෙනහිර | 98 | 142 | 156 | 178 |
| ඌව | 108 | 139 | 149 | 165 |
| උතුරු මැද | 81 | 106 | 121 | 134 |
| උතුර | 125 | 117 | 120 | 131 |
| **ශ්‍රී ලංකාව** | **226** | **287** | **310** | **338** |

මූලාශ්‍රය : ජන හා සංඛ්‍යාලේඛන දෙපාර්තමේන්තුව, ශ්‍රී ලංකාව - 2022

(i) ජන ඝනත්වය යන්නෙන් අදහස් වන්නේ කුමක් ද? (ලකුණු 02 යි)

(ii) 1981 - 2021 කාල පරිච්ඡේදය තුළ ශ්‍රී ලංකාවේ ජන ඝනත්වයෙහි දක්නට ලැබෙන කාලික වෙනස්වීම **තුනක්** කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iii) 1981 - 2021 කාල පරිච්ඡේදය තුළ ශ්‍රී ලංකාවේ ජන ඝනත්වයෙහි පළාත් ව්‍යාප්ති රටාවේ කැපී පෙනෙන ලක්ෂණ **තුනක්** කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iv) ජන ඝනත්වය වැඩිවීම නිසා සංවර්ධනය වන රටවල උද්ගතව ඇති ගැටලු **තුනක්** කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

6. (i) ජනාවාසයක් යනුවෙන් අදහස් කරන්නේ කුමක් ද? (ලකුණු 02 යි)

(ii) ගැමිනාගරික (rurban) ජනාවාසවල දක්නට ලැබෙන ඕනෑම ගති ලක්ෂණ **තුනක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iii) නාගරික සහ ගැමිනාගරික ජනාවාස අතර පවතින වෙනස්කම් **තුනක්** සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

(iv) ශ්‍රී ලංකාවේ ගැමිනාගරික ජනාවාස ආශ්‍රිතව හඳුනාගත හැකි ප්‍රවණතා **තුනක්** පරීක්ෂා කරන්න. (ලකුණු 06 යි)

7. (i) ඛනිජ සම්පතක් යනුවෙන් අදහස් කරන්නේ කුමක් ද? (ලකුණු 02 යි)

(ii) ශ්‍රී ලංකාවේ දක්නට ලැබෙන ප්‍රධාන ඛනිජ සම්පත් **තුනක්** නම් කර, ඒවායේ භූගෝලීය ව්‍යාප්තිය කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iii) ශ්‍රී ලංකාවේ ආර්ථික සංවර්ධනයට ඛනිජ සම්පත් දායකවන ආකාරය නිදසුන් **තුනක්** ඇසුරෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

(iv) ඛනිජ සම්පත් උපයෝජනයේදී ශ්‍රී ලංකාව මුහුණපාන පාරිසරික ගැටලු **තුනක්** නිදසුන් සහිතව පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

8. (i) යුරෝපා සංගමයේ (European Union) ඕනෑම සාමාජික රටවල් **හතරක්** නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) යුරෝපා සංගමයේ අරමුණු **තුනක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iii) යුරෝපා සංගමය මුහුණදෙන ගැටලු **තුනක්** කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

(iv) ශ්‍රී ලංකාව යුරෝපා සංගමය සමග සබඳතා පැවැත්වීම මඟින් භුක්ති විඳින ප්‍රතිලාභ **දෙකක්** පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

***

(iv) ඔබ නිර්මාණය කළ විසරණ සටහනෙන් පෙන්නුම් කරන පරිදි ශ්‍රී ලංකාවේ දළ උපත් අනුපාතිකයෙහි දිස්ත්‍රික්ක ව්‍යාප්තියේ කැපී පෙනෙන ලක්ෂණ හතරක් සඳහන් කරන්න.

- ශ්‍රී ලංකාවේ දිස්ත්‍රික්ක මට්ටමේ දළ උපත් අනුපාතිකයෙහි අවම අගය 9.8 වේ
- ශ්‍රී ලංකාවේ දිස්ත්‍රික්ක මට්ටමේ දළ උපත් අනුපාතිකයෙහි උපරිම අගය 21.0 වේ
- එය ශ්‍රී ලංකාවේ අසමාන දළ උපත් අනුපාතිකයෙහි ව්‍යාප්ති රටාව පැහැදිලිව පෙන්නු කරයි
- ඉහළ චතුර්ථකය ($Q_3$) සහ පහළ චතුර්ථකය ($Q_1$) මත දිස්ත්‍රික්ක 5 සහ 6 බැගින් අ පිළිවෙලින් පිහිටයි.
- දිස්ත්‍රික්ක 14 ක් අන්තර් චතුර්ථක පරාසය තුළ පවතී. ($Q_3$) සහ ($Q_1$) අතර.
- $Q_2$ සහ $Q_1$ අතර ඇති දිස්ත්‍රික්ක 6ක් හා $Q_2$ සහ $Q_3$ අතර දිස්ත්‍රික්ක 06ක් පවතී. එ වුවත් $Q_2$ සහ $Q_1$ අතර දිස්ත්‍රික්කවල වැඩි කේන්ද්‍ර ගත වීමක් ද, $Q_2$ සහ $Q_3$ අතර ( කේන්ද්‍රගත වීමක් ද දක්නට ඇත.

(ලකුණු 04

6. වගුව 2 හි දක්වා ඇති දත්ත ඇසුරින් පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

වගුව 2 : ශ්‍රී ලංකාවේ පළාත් සහ ජාතික පාසල්වල ගුරුවරුන් සංඛ්‍යාව පළාත් අනුව - 2020

| පළාත | පළාත් පාසල් ගුරුවරුන් සංඛ්‍යාව | ජාතික පාසල් ගුරුවරුන් සංඛ්‍යාව |
|---|---|---|
| බස්නාහිර | 35 745 | 10 934 |
| මධ්‍යම | 29 939 | 5 128 |
| දකුණ | 24 168 | 7 336 |
| උතුර | 16 767 | 1 957 |
| නැගෙනහිර | 20 154 | 3 851 |
| වයඹ | 25 504 | 4 362 |
| උතුරු මැද | 15 765 | 1 622 |
| ඌව | 17 666 | 3 130 |
| සබරගමුව | 22 248 | 3 758 |

මූලාශ්‍රය : වාර්ෂික පාසල් සංගණනය - 2020

(i) වගුව 2 හි දක්වා ඇති දත්ත නිරූපණය කිරීම සඳහා ද්විත්ව තීරු ප්‍රස්තාරයක් නිර්මාණය කරන්න (මේ සඳහා සපයා ඇති ප්‍රස්තාර කඩදාසියක් යොදා ගන්න).

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2022 (2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2022 (2023)
General Certificate of Education (Adv. Level) Examination, 2022 (2023)

භූගෝල විද්‍යාව II
புவியியல் II
Geography II

**22 S II**

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

**උපදෙස් :**
* එක් කොටසකින් අවම වශයෙන් ප්‍රශ්න **දෙකක්වත්** තෝරාගෙන, ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස - භෞතික භූගෝල විද්‍යාව

1. (i) පස නිර්මාණය වීමට බලපාන භෞතික සාධක **හතරක්** නම් කරන්න. (ලකුණු 02 යි)

   (ii) පාංශු පැතිකඩෙහි කටු සටහනක් ඇඳ, එහි ඕනෑම ස්තර **දෙකක** ගතිලක්ෂණ කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

   (iii) ශ්‍රී ලංකාවේ දක්නට ලැබෙන ප්‍රධාන පාංශු වර්ග කිහිපයක් පහත දැක්වේ. ඒවා අතරින් **දෙකක්** විස්තර කරන්න.
   (අ) රතු දුඹුරු ලැටසොල්
   (ආ) රතු දුඹුරු පස
   (ඉ) දියලු පස (ලකුණු 06 යි)

   (iv) වර්තමානයේ දී පාංශු සංරක්ෂණය අත්‍යවශ්‍ය වන්නේ ඇයිදැයි හේතු **තුනක්** ඇසුරින් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

2. (i) ලෝකයේ ඕනෑම කාන්තාර **හතරක්** නම් කරන්න. (ලකුණු 02 යි)

   (ii) කාන්තාර ප්‍රදේශවල ජලය මඟින් නිර්මාණය වන භූරූප **තුනක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

   (iii) කාන්තාර ප්‍රදේශවල සුළං ක්‍රියාව මඟින් ඇති වන ඛාදිත භූරූප **දෙකක්** නිර්මාණය වන ආකාරය රූප සටහන් ආධාරයෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

   (iv) කාන්තාර ප්‍රදේශවල සුළං ක්‍රියාව මඟින් නිර්මාණය වන නිධි සාධිත භූරූප **දෙකක්** රූප සටහන් ආධාරයෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

3. (i) නියඟය යනුවෙන් අදහස් කරන්නේ කුමක් ද? (ලකුණු 02 යි)

   (ii) ලෝකයේ හඳුනාගත හැකි නියඟ වර්ග **තුනක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

   (iii) නියඟ උපද්‍රවය ආපදාවක් බවට පත්වන ආකාර **තුනක්** පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

   (iv) ශ්‍රී ලංකාවේ නියඟයෙහි අහිතකර බලපෑම් අවම කිරීමට අනුගමනය කළ හැකි ක්‍රියාමාර්ග **තුනක්** සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

4. (i) පරිසර පද්ධතියක් යනුවෙන් අදහස් කරන්නේ කුමක් ද? (ලකුණු 02 යි)

   (ii) පහත දැක්වෙන මාතෘකා යටතේ 'ශ්‍රී ලංකාවේ නිවර්තන වර්ෂා වනාන්තර' කෙටියෙන් විස්තර කරන්න.
   (අ) දේශගුණය
   (ආ) වෘක්ෂලතාව
   (ඉ) භූගෝලීය ව්‍යාප්තිය (ලකුණු 06 යි)

   (iii) ශ්‍රී ලංකාවේ පරිසර පද්ධති ආශ්‍රිතව ගැටලු උද්ගතවීමට තුඩු දී ඇති මානව කටයුතු **තුනක්** සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

   (iv) ශ්‍රී ලංකාවේ වනාන්තර සංරක්ෂණය සඳහා රජය විසින් ගෙන ඇති ක්‍රියාමාර්ග **තුනක්** පරීක්ෂා කරන්න. (ලකුණු 06 යි)

[දෙවැනි පිටුව බලන්න.

**(ආ) රතු දුඹුරු පස**

- සාමාන්‍ය ගැඹුරකින් හා මනා ජලවහනයකින් යුක්ත ය.
- තද දුඹුරු පැහැති මෙම පසෙහි මහල සෙ.මී. 13 - 25 ඝනත්වයකින් හා මධ්‍යස්ථ සියුම් වයනයකින් යුක්ත වේ.
- ප්‍රධාන වශයෙන් තිරුවාණා, බොරලු හෝ යගල් අඩංගු වේ.
- ඓන්ද්‍රීය ද්‍රව්‍යවල කැල්සියම් සහ මැග්නීසියම් අඩංගු වන අතර නයිට්‍රජන් ප්‍රමාණය අඩු ය.
- මෙම පස වියළි කලාපයට අයත් අනුරාධපුර, පොළොන්නරුව, වව්නියාව, හම්බන්තොට, මොනරාගල හා යාබද දිස්ත්‍රික්කවල ඇතැම් ප්‍රදේශවල ව්‍යාප්ත ව පවතී.
- ධාන්‍ය වර්ග මුං, මෑ වැනි ඇට වර්ග, තෙල් ලබා ගන්නා ඇට හා වෙනත් අතිරේක ආහාර බෝග වගාව සඳහා යෝග්‍ය වේ.

**(ඉ) දියලු පස**

- ජලය මඟින් නිර්මාණය වූ නිධිසාදිත පසකි.
- මනා ජලවහන තත්ත්වයේ සිට දුර්වල ජලවහනය තෙක් වෙනස් වේ.
- පසේ වයනය වැලි සහිත මැටි ස්වභාවයක් ගනී.
- ගංගා ආශ්‍රිත භූමිවල ද පිටාර තැනිවල ද ව්‍යාප්ත ව පවතී.
- වී වගාව සඳහා ඉතා යෝග්‍ය මෙම පස එළවළු වගාව සඳහා ද යොදාගත හැකි ය.

**(ලකුණු 03 × 2 = 06 යි)**

**(iv) වර්තමානයේ දී පාංශු සංරක්ෂණය අත්‍යවශ්‍ය වන්නේ ඇයිදැයි හේතු තුනක් ඇසුරින් පැහැදිලි කරන්න.**

- පසෙහි පවතින කෘෂි නිෂ්පාදන ධාරිතාව ආරක්ෂාකර ගැනීමට සහ එය තවදුරටත් වැඩි කර ගැනීමට
- පාංශු සංරක්ෂණ ක්‍රියා මාර්ග නොමැතිකම නිසා විනාශ වී තිබෙන පස යථා තත්වයට පත්කර ගැනීමට
- අනාගතයේදී පස විනාශ වීමට ඉඩ තිබෙන භූමියෙහි එම තත්වයෙන් ආරක්ෂා කර ගැනීමට
- ජලවහන ලක්ෂණ සහ පසෙහි ඵලදායිතාව අතර සම්බන්ධතාවක් පවතින බැවින් පස ආරක්ෂා කර ගැනීම මගින් ජලවහන ලක්ෂණ ද ආරක්ෂා කර ගැනීමට
- ජලාශවල රොන්මඩ එකතු වීම අවම කිරීම
- පසේ ක්ෂුද්‍ර ජීවීන් ආරක්ෂා කර ගැනීම
- [illegible]
- [illegible]

**(ලකුණු 02 × 3 = 06 යි)**

(iii) ද්විත්ව තීරු ප්‍රස්තාර ක්‍රමයේ වාසි තුනක් සඳහන් කරන්න.

- නිර්මාණය පහසුවීම,
- පහසුවෙන් තේරුම් ගැනීමට හැකිවීම,
- විචල්‍ය දෙකක් එකවර ප්‍රදර්ශනය කිරීමේ හැකියාව,
- විචල්‍ය දෙකක් සංසන්දනය කිරීමේ හැකියාව.

(ලකුණු 03

******

## II කොටස

## භෞතික භූගෝල විද්‍යාව

1. (i) පස නිර්මාණය වීමට බලපාන භෞතික සාධක හතරක් නම් කරන්න.

- මවු පාෂාණ
- දේශගුණය
- භූ විෂමතාව
- කාලය
- ශාකවල, සත්ත්වයන්ගේ හා ක්ෂුද්‍ර ජීවීන්ගේ ක්‍රියාකාරිත්වය
- ජලය හා ජලවහනය

(ලකුණු 0.5 × 4 = 02 යි)

(ii) පාංශු පැතිකඩෙහි කටු සටහනක් ඇඳ, එහි ඕනෑම ස්තර දෙකක ගතිලක්ෂණ කෙටියෙන් විස්තර කරන්න.




පාංශු පැතිකඩෙහි O, A, B, C, R යනුවෙන් ප්‍රධාන කලාප පහක් හඳුනා ගෙන ඇත.

**O කලාපය**

- සාමාන්‍යයෙන් මෙය තුනී ස්තරයක් වේ.
- පස මතුපිටට වැටෙන ජීරණය වූ හෝ ජීරණය වෙමින් පවතින කාබනික ද්‍රව්‍ය බහුලව අඩංගු කලාපය යි.
- මෙම ස්ථරයේ ඉහළ කොටසෙහි ජීරණය වෙමින් පවතින කාබනික කොටස් පවතී.
- ජීරණය වූ කාබනික ද්‍රව්‍ය මෙම ස්ථරයේ පහළ කොටසෙහි දක්නට ලැබේ.

- **බහාඩා (Bajada)**

දියළු අවාන් දෙකක් හෝ කිහිපයක් එකතු වූ විට ඒවා බහාඩාව (Bajada) ලෙස නම් කෙරේ. ස්පාඤ්ඤ භාෂාවෙන් බහාඩාවෙහි අර්ථය බෑවුම යන්නයි.

- **ප්ලායා විල් (ලවණ විල්) (Salt lake)**

ස්පාඤ්ඤ භාෂාවෙන් ප්ලායා හි අර්ථය වෙරළ යන්නයි. කාන්තාර ප්‍රදේශවල ඇති වරින් වර වර්ෂා ජලයෙන් පිරියන නොගැඹුරු ස්ථාන ප්ලායා විල් ය. ප්ලායා විලකට ජලය ලැබෙන්නේ වර්ෂාපතනයෙන් පමණි. එම විල් පතුලේ ඇති අවසාදිතවල විශාල ලෙස ලවණ සංකේන්ද්‍රණය වී ඇත්නම් ඒවා ප්ලායා විල් හෙවත් ලවණ විල් (Salinas) ලෙස ද හැඳින්වේ.

- **සලපිල (වියලි නිම්න) (Pediment)**

සලපිල යනු කාන්තාර ප්‍රදේශවල දක්නට ලැබෙන ගලායන ජලය මගින් නිර්මාණය වන මඳ බෑවුමකින් යුක්ත ඛාදිත මතුපිටක් සහිත පෘෂ්ඨයකි. එය කඳු වැටියක පාමුල විද්‍යමාන වන ඛාදිත ලක්ෂණයකි.

සලපිලෙහි මතුපිට මව් පාෂාණය දක්නට ලැබෙන අතර ආසන්නයේ ඇති උස් බිම්වලින් එකතුවූ අවසාදිත ද්‍රව්‍ය ද සලපිලෙහි එක් රැස්වේ. වේගවත් ජල පහර මගින් හෝ සුළං මගින් හෝ පරිවහනය වන තෙක් මෙම අවසාදිත ද්‍රව්‍ය සලපිලෙහි රැඳී පවතී.

**(ලකුණු 02 × 3 - 06 යි)**

(iii) **කාන්තාර ප්‍රදේශවල සුළං ක්‍රියාව මගින් ඇති වන ඛාදිත භූරූප දෙකක් නිර්මාණය වන ආකාරය රූප සටහන් ආධාරයෙන් පැහැදිලි කරන්න.**

- **ගල් වේදිකාව /බිම්මල් ආකාර පාෂාණ/ ගවුර**




මෙ සඳහා සුළං උල්ලේඛය දායක වේ. උල්ලේඛය යනු සුළඟ මගින් ඔසවාගෙන යන කුඩා පාෂාණ කැබලි හා වැලිකැට පාෂාණ මතුපිට ගැටී, සීරී, මටසිලිටු වී ඔපමට්ටම වීම යි. එ මගින් විශාල පාෂාණ ස්කන්ධ විවිධ හැඩ ගන්වයි. බිම්මල් ආකාර පාෂාණ එක් උදාහරණයකි. පොළොව මට්ටමේ දී එහි උල්ලේඛය ඉතා බහුල ය.

- **යාඩැම**




සුළඟ සහ උල්ලේඛය මගින් යාඩැම නිර්මාණය වේ. කාන්තාර ප්‍රදේශයක හමායන සුළඟට සමාන්තරව දැඩි සහ සුමට පාෂාණ ස්ථර පිහිටා ඇති විට උල්ලේඛය මගින් වැටි සහ රැළි සහිත භූ දර්ශනයක් ඇති කෙරේ උල්ලේඛය නිසා සුමට පාෂාණ ස්ථර අගල් බවට පත් වේ.

**2. (i) ලෝකයේ ඕනෑම කාන්තාර හතරක් නම් කරන්න.**

1. ඇන්ටාක්ටිකා
2. ආක්ටික්
3. සහරා
4. මහා ඔස්ට්‍රේලියානු කාන්තාරය
5. අරාබි
6. ගෝබි
7. කලහාරි
8. පැටගෝනියා
9. ග්‍රීන්ලන්තය
10. ඇටකාමා

(ලකුණු 02 ශි

**(ii) කාන්තාර ප්‍රදේශවල ජලය මගින් නිර්මාණය වන භූරූප තුනක් කෙටියෙන් විස්තර කරන්න.**

ජලය මගින් කාන්තාර ප්‍රදේශවල විවිධ භූ රූප නිර්මාණය කරනු ලැබේ. හදිසියේ ම ඇති ධාරානිපාත වැසි හේතුකොට ගෙන කාන්තාරවල සමස්ත භූ දර්ශනයේ ම වෙනස්කම් ඇති

- **ඇගිලි (කඳුරු) (Gullies)/ වාඩි (මළදොළ) (Wadi)**

  වසර ගණනාවක් තිස්සේ වැසි නොලැබූ කාන්තාර ප්‍රදේශයක හදිසියේ ම ඇති වන සහ 250 අතරවන ධාරානිපාත වැසි හේතුකොට ගෙන දළ බෑවුම් ඔස්සේ වේ ගලායන ජල මාර්ග නිර්මාණය වේ. (නිරාවරණය වූ භූමිය මතට ධාරානිපාත වැසි වීමෙන් සිදු වන ඛාදනය අති විශාල ය). එසේ දළ බෑවුම් ඔස්සේ අධි ධාවිතය සිදුවන ජල මාර්ගවල ඇගිලි හෙවත් කඳුරු නිර්මාණය වේ.

  අරාබි භාෂාවෙන් වාඩි යනුවෙන් අදහස් කරන්නේ නිම්නය යන්නයි. උතුරු අප්‍රිකා මැද පෙරදිග කාන්තාරවල වාඩි හඳුනාගත හැකිය. එම පළාත්වල භූමිය මෙන්ම වසරේ වැඩි කාලයක් වියළි තත්ත්වයේ පවතී. වර්ෂා සෘතුව පැමිණි විට වාඩි ඔස්සේ ගලායාම වේගවත් වේ. අධික වර්ෂාව නිසා ක්ෂණික ගංවතුර නිර්මාණය කරන අත මගින් පාෂාණ සුන්බුන් සහ අවසාදිත ප්‍රවාහනය කරයි. ක්ෂණික ගංවතුර අවස්ථාව මගින් කෙටි කාලයක දී රොන් මඩ විශාල ප්‍රමාණයක් ප්‍රවාහනය කරයි.

- **දියළු අවාන් (ගිරිපාද ගැවි) (Alluvial fan)**

  ලෝකයේ ඕනෑම කාන්තාර ප්‍රදේශයක බහුල ලෙස සහ කැපී පෙනෙන ලෙස හැකි භූරූප ලක්ෂණය දියළු අවාන් ය. කාන්තාර ප්‍රදේශවල කඳු පාමුල ස්ථානවල ලෙස දක්නට ලැබේ.

5. වගුව 1 හි දක්වා ඇති දත්ත ඇසුරින් පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

**වගුව 1 : ශ්‍රී ලංකාවේ දිස්ත්‍රික්ක අනුව දළ උපත් අනුපාතිකය (CBR) (ජන සංඛ්‍යාවෙන් දහසකට) - 2021**

| දිස්ත්‍රික්කය | දළ උපත් අනුපාතිකය | දිස්ත්‍රික්කය | දළ උපත් අනුපාතිකය |
|---|---|---|---|
| කොළඹ | 11.4 | මුලතිව් | 11.5 |
| ගම්පහ | 10.2 | මඩකලපුව | 15.6 |
| කළුතර | 9.8 | අම්පාර | 17.3 |
| මහනුවර | 12.8 | ත්‍රිකුණාමලය | 18.9 |
| මාතලේ | 12.6 | කුරුණෑගල | 12.3 |
| නුවරඑළිය | 13.2 | පුත්තලම | 14.5 |
| ගාල්ල | 13.2 | අනුරාධපුර | 13.3 |
| මාතර | 10.8 | පොළොන්නරුව | 14.3 |
| හම්බන්තොට | 15.8 | බදුල්ල | 13.8 |
| යාපනය | 14.0 | මොණරාගල | 13.4 |
| කිලිනොච්චි | 21.0 | රත්නපුරය | 13.2 |
| මන්නාරම | 19.9 | කෑගල්ල | 12.2 |
| වවුනියාව | 17.3 | **ශ්‍රී ලංකාව** | **12.9** |

මූලාශ්‍රය : ජන හා සංඛ්‍යාලේඛන දෙපාර්තමේන්තුව, ශ්‍රී ලංකාව - 2022

(i) වගුව 1 හි සපයා ඇති දත්ත ආරෝහණ පිළිවෙළට සකස් කර මධ්‍යස්ථය ($Q_2$), පහළ චාතුර්ථිකය ($Q_1$) හා ඉහළ චාතුර්ථිකය ($Q_3$) ගණනය කරන්න.

| දළ උපත් අනුපාතිකය |
|---|
| 21.0 |
| 19.9 |
| 18.9 |
| 17.3 |
| 17.3 |
| 15.8 |
| 15.6 |
| 14.5 |
| 14.3 |
| 14.0 |
| 13.8 |
| 13.4 |
| 13.3 |
| 13.2 |
| 13.2 |
| 13.2 |
| 12.8 |
| 12.6 |
| 12.3 |
| 12.2 |
| 11.5 |
| 11.4 |
| 10.8 |
| 10.2 |
| 9.8 |

$Q_3$ ඉහළ චතුර්ථකය (15.7)

$Q_2$ මධ්‍යස්ථය (13.3)

$Q_1$ පහළ චතුර්ථකය (12.25)

| | |
|---|---|
| ආරෝහණ පිළිවෙළට සැකසීම | ලකුණු 01 |
| පහළ චාතුර්ථකය | ලකුණු 01 |
| ඉහළ චාතුර්ථකය | ලකුණු 01 |
| මධ්‍යස්ථය | ලකුණු 01 |
| **මුළු ලකුණු** | **ලකුණු 04** |

- **සොයිගන**

සුළං උල්ලේඛය මගින් කාන්තාර ප්‍රදේශයක මතුපිට පවතින දැඩි පාෂාණ ස්ථර සහ සුමට පාෂාණ ස්ථර වැටි සහ රළි සහිත භූ දර්ශනයක් බවට පත් කරයි. මෙයින් දැඩි පාෂාණ ස්ථරයේ ඇති පාෂාණ තීරු සොයිගන නම් වේ. සොයිගනවල උස මීටර 3 පමණ සිට මීටර 36 පමණ දක්වා වෙනස් වේ. සුළං උල්ලේඛය සොයිගනවල උස ටිකෙන් ටික අඩු කරන අතර රළි විශාල කරයි.




- **අපහරණ ද්‍රෝණි**

අපහරණ ද්‍රෝණි/ ආවාට



සුළං අපහරණය මගින් නිර්මාණය කරන සමහර ද්‍රෝණි පොළොවේ ජලය දරා සිටින පාෂාණ දක්වා ගැඹුරට විහිද යයි. මෙවැනි ස්ථානයක වගුරු බිමක් හෝ ක්ෂේම භූමියක් නිර්මාණය වේ. සමහර අවස්ථාවල මෙවැනි ද්‍රෝණියක් මීටර 100 පමණ ඉක්මවා ගැඹුරට විහිද යයි. ඒවා ලවණ වගුරුවලින් ද සමන්විතය.

- **වාමට කැට**

සුළං උල්ලේඛය මගින් හැඩ ගැසුනු සහ දීප්තිමත් වූ ගල් කැට මෙයට අයත් ය. ඉතා දීර්ඝ කාලයක් තිස්සේ සුළං උල්ලේඛය මගින් සියුම් හැඩවලින් යුක්ත ගල් කැට බොරළු ආදිය නිර්මාණය වේ.




- **බියුට**

භූදකලා කඳු ලෙස බියුට සැලකිය හැකිය. සාපේක්ෂ වශයෙන් කුඩා භූරූප ලක්ෂණ වේ. කලින් බෑවුම් සහිතව තිබූ භූමියක බාදිත ශේෂ ලෙස ද පෙන්වා දිය හැකිය.




- **මේසාව**

ස්පාඤ්ඤ භාෂාවෙන් Mesa හි අර්ථය මේසය යන්නයි. එය බියුටයකට සමාන වන නමුත් එයට වඩා පැතිරුණු මුදුන් තලයක් පවතී. ඒ අනුව මේසාවක් යනු ඉතා පුළුල් පැතලි මුදුනක් සහිත මධ්‍යම මට්ටමේ උසකින් යුක්ත ශේෂ කන්දක් වැනි ලක්ෂණයකි. මුදුනෙහි ඇති මතුපිට පවතින්නේ දැඩි පාෂාණ ස්ථරයකි.



(ii) පහත දැක්වෙන මාතෘකා යටතේ 'ශ්‍රී ලංකාවේ නිවර්තන වර්ෂා වනාන්තර කෙටියෙන් විස්තර කරන්න.

(අ) දේශගුණය

- ශ්‍රී ලංකාවේ නිරිතදිග ප්‍රදේශයේ පිහිටා ඇති සිංහරාජ ප්‍රාථමික නිරිතදිග වැසි වනා... වලට අයත් වේ.
- වර්ෂා වනාන්තර ලෙසට හැඳින්වීමට හේතුව වාර්ෂිකව ඉහළ වර්ෂාපතනයක් ලැ... බැවිනි. උස් ඝන කැළෑවකින් සමන්විත වන අතර වැසි වනාන්තර තුළ උණුසුම් හා ... දේශගුණයක් පවතී.
- වර්තමානයේ ශ්‍රී ලංකාවේ නිවර්තන වැසි වනාන්තර භූමියෙන් 2%ක් පමණක් පවතී. ... අතීතයේ එම ප්‍රමාණය 26%ක් පමණ විය.
- වසර පුරා පවතින උණුසුම් හා තෙත් දේශගුණයක් පවතී.
- සාමාන්‍ය උෂ්ණත්වය 27°C සිට 30°C දක්වා වසර පුරා පැතුරුණු ඒකාකාර පරා... පවතින අතර ඍතු අතර සුළු වෙනසක් පවතී.
- වසර පුරා පැතිරුණු අධික වර්ෂාපතනය මි.මී. 2500 - මි.මී. 5000 තෙක් වෙනස් වේ.
- වාර්ෂික වර්ෂාපතනය ඉහළ අගයක් ගන්නා අතර සාමාන්‍යයෙන් මිලිමීටර් 2500ක් ... වන අතර මෝසම් සුළංවල බලපෑමට නතු වේ .
- ආර්ද්‍රතාවය ඉතා ඉහළය. එය 70-90% දක්වා වන අතර එමගින් ආර්ද්‍රතාහරිත පරි... නිර්මාණය කරයි.
- වසරේ වැසි කාලයන් තුළ පාංශු තෙතමනය රඳා පවතී.

(ආ) වෘක්ෂලතාව

- ශාක සදහරිත ය
- ශාක කඳන් ඍජු ය. උසට විහිදේ. කයිරු මුල්වලින් යුක්ත ය.
- ශාක විවිධත්වයක් ඇත. ලෝකයේ ශාක විශේෂ අතුරින් 60%ක් පමණ මෙහි දක්නට ...
- මෙම ප්‍රදේශවල ජෛව විවිධත්වය ඉහළ ය. ලෝකයේ ක්ෂීරපායී විශේෂවලින් 65%ක් ද, කෘමි විශේෂවලින් 70%-80% අතර ප්‍රමාණයක් ද මෙම ප්‍රදේශවල වාසය කරති.
- ශාක ස්තරායනය අනුව ලැබෙන සූර්යාලෝකය වෙනස් වේ.
- වඩාත් උස් ශාක සහිත ය. වියන් ස්තරයෙන් තැනින් තැන මතු වී පෙනෙන මෙම ගස් මීටර් 35-45 පමණ උස ය.
- වියන් ස්තරයේ ශාක එකිනෙක ළඟින් පිහිටයි. උස මීටර් 25-35 පමණ වේ.
- උපවියන් ස්තරය මීටර් 15-25 තරම් උසින් යුක්ත ය.
- පඳුරු ශාක ස්තරය මීටර් 5-15 උසැති ය.
- ස්කන්ධ පුෂ්පීයතාවක් (ශාක කඳන් මත මල් හා පල හට ගැනීම) දක්නට ඇත.
- පිළිල ශාක බහුල ය.
- වෘක්ෂලතාවන්හි වසර පුරා ම ශීඝ්‍ර වර්ධනයක් සිදු වේ.
- බිම් ස්තරයට ආලෝකය විහිදෙන ප්‍රමාණය අඩු හෙයින් යටිරෝපණය දුර්වල ය.
- ශාක විශේෂ: කළුවර, හොර, නා, තාලවර්ගයේ ශාක, තේක්ක, උණ, මැහෝගනී

**(ii) 1981 - 2021 කාල පරිච්ඡේදය තුළ ශ්‍රී ලංකාවේ ජන ඝනත්වයෙහි දක්නට ලැබෙන කාලික වෙනස්වීම තුනක් කෙටියෙන් පැහැදිලි කරන්න.**

- ශ්‍රී ලංකාවේ ජන ඝනත්වය 226 සිට 338 දක්වා වැඩිවී තිබේ.
- බස්නාහිර පළාතේ ජන ඝනත්වය 1064 සිට 1688 දක්වා වැඩිවී තිබේ.
- මධ්‍යම පළාතේ ජන ඝනත්වය 354 සිට 495 දක්වා වැඩිවී තිබේ.
- දකුණු පළාතේ ජන ඝනත්වය සිට 340 දක්වා 486 වැඩිවී තිබේ.
- සබරගමුව පළාතේ ජන ඝනත්වය 298 සිට 420 දක්වා වැඩිවී තිබේ.
- වයඹ පළාතේ ජන ඝනත්වය 216 සිට 329 දක්වා වැඩිවී තිබේ.
- නැගෙනහිර පළාතේ ජන ඝනත්වය 98 සිට 178 දක්වා වැඩිවී තිබේ.
- ඌව පළාතේ ජන ඝනත්වය 108 සිට 165 දක්වා වැඩිවී තිබේ.
- උතුරු මැද පළාතේ ජන ඝනත්වය 81 සිට 134 දක්වා වැඩිවී තිබේ.
- උතුරු පළාතේ ජන ඝනත්වය 125 සිට 131 දක්වා වැඩිවී තිබේ.

**(ලකුණු 02 x 3 = 06 යි)**

**(iii) 1981 - 2021 කාල පරිච්ඡේදය තුළ ශ්‍රී ලංකාවේ ජන ඝනත්වයෙහි පළාත් ව්‍යාප්ති රටාවේ කැපී පෙනෙන ලක්ෂණ තුනක් කෙටියෙන් පැහැදිලි කරන්න.**

- ශ්‍රී ලංකාවේ පළාත් මට්ටමේ ජන ඝනත්වය අසමානතාවෙන් යුක්තය.
- ඉහළම ජන ඝනත්වය බස්නාහිර පළාතේ (2021 දී 1688 කි.) වන අතර පහළම ජන ඝනත්වය උතුර පළාතේ (2021 දී 131 කි.) දක්නට ලැබේ.
- මධ්‍යම සහ දකුණු පළාත්වල ජන ඝනත්වය සාමාන්‍ය වශයෙන් සමානය. 2021 දී 495 සහ 486 වේ.
- නැගෙනහිර සහ ඌව පළාත්වල ජන ඝනත්වය සාමාන්‍ය වශයෙන් සමානය. 2021 දී 178 සහ 165 වේ.
- උතුරු මැද සහ උතුරු පළාත්වල ජන ඝනත්වය බොහෝ දුරට සමානය. 2021 දී 134 සහ 131 වේ.
- මධ්‍යම, දකුණු, සබරගමුව සහ වයඹ පළාත්වල ජන ඝනත්වය 2021 දී 495 සහ 329 අතර වේ.
- නැගෙනහිර, ඌව, උතුරු මැද සහ උතුරු පළාත්වල ජන ඝනත්වය 2021 දී 178 සහ 131 අතර වේ.

**(ලකුණු 02 x 3 = 06 යි)**

**(iv) ජන ඝනත්වය වැඩිවීම නිසා සංවර්ධනය වන රටවල උද්ගතව ඇති ගැටලු තුනක් කෙටියෙන් සාකච්ඡා කරන්න.**

ආර්ථික සංවර්ධනයට ඇති කරන බලපෑම

- වැඩිවන ජන ඝනත්වය ආර්ථික වර්ධනය කෙරෙහි ඍණාත්මක බලපෑමක් ඇති කරයි
- ස්වභාවික සම්පත් උපයෝජනය කෙරෙහි ඍණාත්මක බලපෑමක් ඇති කරයි: පුනර්ජනනීය නොවන සම්පත් ක්ෂය වීම
- ඉඩම් සම්පත් හිඟ වීම
- ඉහළ ජන ඝනත්වයේ බලපෑමෙන් සම්පත් උරුමය අඩු වීම නිසා ජනතාව දුප්පතුන් බවට පත් වීම

- ගැමි නාගරික ජනාවාස බෙහෙවින්ම ගතිකත්වයෙන් යුක්තයි. එබැවින් ගැමි නාගරික කලාපයේ සීමාව ග්‍රාමීය ප්‍රදේශවලට තල්ලු වෙමින් පැවතී.

- භූමිපරිභෝගය නිරන්තරයෙන් වෙනස්වන බව හඳුනාගත හැකිය. උදාහරණ ලෙස කෙටි කාලයක් තුළ සීඝ්‍රයෙන් ක්ෂයවන ගොවිබිම් ප්‍රමාණයක් ද තෘතීයික අංශයේ සීඝ්‍ර වර්ධනයක්ද සහිත වීම. මෙහි ප්‍රතිඵලයක් ලෙස ගොඩනැගිලි ඉදිවීම ද බහුල ලෙස දක්නට ලැබේ.

- සැළසුම් නොකළ කලාපයක් වීම සහ ජනාවසය තුළ දැකිය හැකි බොහෝ වෙනස්කම් පුද්ගල කැමැත්ත මත සිදුවීම.

(ලකුණු 02 x 3 = 06 යි)

**(iii) නාගරික සහ ගැමිනාගරික ජනාවාස අතර පවතින වෙනස්කම් තුනක් සාකච්ඡා කරන්න.**

| වෙනස්කම් | නාගරික | ගැමි-නාගරික |
|---|---|---|
| ජන සංඛ්‍යාව | සාපේක්ෂ වශයෙන් විශාල ජන සංඛ්‍යාවකි | මධ්‍යම මට්ටමේ ජන සංඛ්‍යාවකි |
| ජනඝනත්වය | ඉහළය | මධ්‍යම මට්ටමක පවතියි |
| ආර්ථික කටයුතු | ද්විතීයික, තෘතියික, චාතුර්ථක කටයුතු | ක්‍රමයෙන් ප්‍රාථමික ආර්ථික කටයුතු අඩු වී ද්විතියක තෘතීයික හා චාතුර්ථක කටයුතු වැඩි වෙමින් පවතී |
| කාර්යය | පරිපාලන, මූල්‍ය, සෞඛ්‍ය, අධ්‍යාපන, ප්‍රවාහන, කාර්මික, වානිජ, ප්‍රතිමෝදක වැනි කාර්ය ඒකරාශී වේ | තෘතීයික කාර්යය ප්‍රබල වන අතර වානිජ හා අනෙකුත් කාර්යයන් වර්ධනයක් පෙන්නුම් කිරීම |
| දෛනික සංචලතාව | උදය වරුවේ නගරය තුළට සිදුවන සංචලතාව බහුලවන අතර හවසට නගරයෙන් පිටතට සිදුවන සංචලතාවක් හඳුනාගත හැකිය | උදය වරුවේ ජනාවාසයෙන් පිටතට ද හවස් කාලයේදී නැවත ජනාවාසය තුළටද සිදුවන සංචලතාවක් හඳුනාගත හැකිය |
| සංක්‍රමණය | වැඩිය | වැඩි ය |
| ඉදිකළ ප්‍රදේශ | විශාලය | වැඩි වෙමින් පවතී |

(ලකුණු 02 x 3 = 06 යි)

(iii) ශ්‍රී ලංකාවේ ආර්ථික සංවර්ධනයට ඛනිජ සම්පත් දායකවන ආකාරය නිදසුන් කුතකු ඇසුරෙන් සාකච්ඡා කරන්න.

**කාර්මික අමුද්‍රව්‍යයක් ලෙස ඛනිජ සම්පත්වල දායකත්වය**

- ඛනිජ සම්පත් දේශීය කර්මාන්තවලට අවශ්‍ය වන අමුද්‍රව්‍යයක් ලෙස හැඳින්විය හැ ඇස්බැස්ටෝස්, ස්වර්ණාභරණ, වීදුරු, සිමෙන්ති, සායම් වර්ග
- කෙඔලින් ඛනිජය අමුද්‍රව්‍යයක් ලෙස යොදගනිමින් ප්‍රධාන සමාගම් කිහිපයක් ම නිෂ්පාදන කර්මාන්තයේ යෙදී සිටී. උදා: දංකොටුව පෝසිලේන් සමාගම, ලංකා සමාගම - පිඟන් භාණ්ඩ, පිඟන් ගඩොළු, සනීපාරක්ෂක භාණ්ඩ, පරිවාරක, විදුලි මෙම සමාගම් මඟින් නිපදවනු ලැබේ.
- දේශීය වශයෙන් විශාල ලෙස ප්‍රයෝජනයට ගන්නා වීදුරු භාණ්ඩ නිෂ්පාදනය සඳ වන සිලිකා වැලි කාර්මික අමුද්‍රව්‍යයක් ලෙස වැදගත් වේ.
- දේශීය පරිභෝජනයට යොදගන්නා අතර ම විදේශ විනිමය උපයන මාර්ගයක් ලෙ සම්පත් යොද ගැනේ. උදා: මැණික්, මිනිරන්, ඛනිජ වැලි

**සේවා නියුක්තිය සඳහා ඛනිජ සම්පත්වල දායකත්වය**

- ප්‍රාථමික අංශයේ රැකියා මෙන් ම, ද්විතීයක අංශයේ රැකියා සපයන මාර්ග මෙම වී ඇත.
- මැටි, හුනුගල්, මැණික්, මිනිරන්, ඛනිජ වැලි, සිලිකා වැලි, ගංගා වැලි, ඇපටයි වර්ග ආදි ඛනිජ ද්‍රව්‍ය ආශ්‍රිත කාර්මික ක්‍රියාවලියට යොමු වී ඇති සෘජු හා නියුක්තිය මිලියන භාගයක් පමණ ලෙස සඳහන් කළ හැකිය.
- ඉහත සඳහන් ඛනිජ සම්පත්වලින් අප රට තුළ ම භාණ්ඩ නිෂ්පාදනය කිරීමෙ නියුක්තිය වැඩි කළ හැකි ය. එය ශ්‍රී ලංකාවේ සේවා වියුක්ති ගැටලුවට විසඳ සැලකීමට ද පුළුවන.

**ප්‍රාදේශීය සංවර්ධනය සඳහා ඛනිජ සම්පත්වල දායකත්වය**

- ශ්‍රී ලංකාවේ ඛනිජ සම්පත් ප්‍රාදේශීය වශයෙන් ව්‍යාප්ත ව පවතී. ඛනිජ සම්පත් සිදුවන කාර්මික නිෂ්පාදනය නිසා ප්‍රාදේශීය සංවර්ධනයක් ඇති වේ.
- ඒවා නිෂ්කර්ෂණය හා නිෂ්පාදනය මඟින් ප්‍රාදේශීය සංවර්ධනය වේගවත් කළ හැ
- ඛනිජ සම්පත් නිෂ්කර්ෂණය මඟින් එම ප්‍රදේශවල ජනයාට හොඳ ආර්ථිකයක් සමාජීය පහසුකම් ලබාදීම ද සිදු වේ.

- සමතුලිත ආර්ථික වර්ධනය සහ සමාජ සාධාරණත්වය මත පදනම් වූ තිරසර සංවර්ධනය
- පූර්ණ සේවා නියුක්තිය සහ සමාජ ප්‍රගතිය අරමුණු කරගත් තරඟකාරී සමාජ වෙළඳපොළ ආර්ථිකය

(ලකුණු 02 x 3 = 06 යි)

**(iii) යුරෝපා සංගමය මුහුණදෙන ගැටලු තුනක් කෙටියෙන් සාකච්ඡා කරන්න.**

- ගෝලීය මූල්‍ය අර්බුදය මධ්‍යයේ මූල්‍ය ප්‍රතිසංස්කරණ ඇති කළ යුතු ආකාරය
- සංක්‍රමණිකයින්ගේ අර්බුදය සහ සංක්‍රමණික ප්‍රතිපත්තියෙහි වෙනස්කම් ඇති කිරීම සඳහා ඇති ඉල්ලුම
- ජනතාවගේ සමාජ ජීවිතය කෙරෙහි කොවිඩ් 19 වසංගතය ඇති කළ අහිතකර බලපෑම
- යුක්රේනයට එරෙහිව රුසියාවේ ආක්‍රමණශීලීත්වය නිසා සාමාජික රටවල් අතර ඇතිව තිබෙන පීඩනය
- ගෝලීය දේශපාලනික ගැටලු නිසා උද්ගතව තිබෙන ප්‍රශ්නකාරී වාතාවරණය
- සාමාජික රටවල මන්දගාමී ආර්ථික වර්ධනය සහ සේවා වියුක්තිය ඉස්මතු වීම
- සමහර රටවල් යුරෝපා සංගමයෙන් ඉවත් වීමට ප්‍රයත්න දැරීම : උදාහරණ වශයෙන් එක්සත් රාජධානිය

(ලකුණු 02 x 3 = 06 යි)

**(iv) ශ්‍රී ලංකාව යුරෝපා සංගමය සමඟ සබඳතා පැවැත්වීම මගින් භුක්ති විඳින ප්‍රතිලාභ දෙකක් පැහැදිලි කරන්න.**

- 2013 පමණ වන තෙක් උතුරු නැගෙනහිර පළාත්වල පශ්චාත් යුද ප්‍රතිසංස්කරණ කටයුතු සහ දරිද්‍රතාව අඩු කිරීම කෙරෙහි යුරෝපා සංගමයේ අවධානය වී යොමු තිබුනි.
- නමුත් 2014 - 2020 කාල පරිච්ඡේදය තුළදී ප්‍රමුඛතාව ලැබුනේ ග්‍රාමීය සංවර්ධනය, ප්‍රජාතන්ත්‍රවාදී පාලනය සහ සංහිඳියාව කෙරෙහිය.
- ශ්‍රී ලංකාවේ ගැටුම්වලින් සහ ස්වභාවික ආපදාවලින් පීඩාවට පත් වූවන් ට මානුෂීය ආධාර ලබා දෙන ලොව විශාලතම ආධාර සපයන්නා වන්නේ යුරෝපා සංගමයයි.
- චීනය හැරුණු විට ශ්‍රී ලංකාවේ දෙවන විශාලතම වෙළඳ පාර්ශවකරු වන්නේ යුරෝපා සංගමයයි.
- යුරෝපා සංගමයේ වෙළඳ පොළට GSP+ සහනය යටතේ ප්‍රවේශ වීමේ වාසිය ද ශ්‍රී ලංකාවට ඇත.
- අනාගතයේ දී ශ්‍රී ලංකාවේ හරිත ආර්ථිකයක් ඇති කිරීම සඳහාත් සාමකාමී වූත් සියළු දෙනා ඇතුළත් වූත් සමාජයක් ගොඩ නැංවීම සඳහා යුරෝපා සංගමය සහාය වනු ඇත.

(ලකුණු 02 x 3 = 06 යි)

*********

වායු දූෂණය කෙරෙහි බලපෑම

- ඛනිජ නිෂ්කර්ෂණ කර්මාන්තය නිසා භූතලය මතුපිට මෙන් ම පතල් තුළ ද වායු දූෂ
වේ.
- පතල් තුළ අපවිත්‍ර වායු හා විෂ වායු නිසා ජීවිත හානි සිදු වේ.
- ඛනිජ ද්‍රව්‍ය නිෂ්කර්ෂණයේ දී දූවිලි පැතිර යෑමෙන් පරිසරය විශාල වශයෙන් අපවිත්‍ර
උදා: පොස්පේට් නිෂ්පාදනය ආශ්‍රිත වායු දූෂණය
- ඛනිජ ද්‍රව්‍ය ප්‍රවාහනයේ දී ආවරණ භාවිතය නොවන්නේ නම් වායු අපවිත්‍ර වී
මාර්ගයන්හි ගමන් කරන්නන්ට අපහසුතා සිදු වේ.
- ඛනිජ ද්‍රව්‍ය නිෂ්පාදනයේ දී කරන පිපිරවීම් නිසා ද වායු දූෂණය සිදු වේ.

(ලකුණු 02 x 3 = 06

8. (i) යුරෝපා සංගමයේ (European Union) ඔනෑම සාමාජික රටවල් හතරක් නම් කරන්න.

1. ඔස්ට්‍රියාව
2. බෙල්ජියම
3. බල්ගේරියාව
4. ක්‍රොඒෂියාව
5. සයිප්‍රස් ජනරජය
6. චෙක් ජනරජය
7. ඩෙන්මාර්කය
8. එස්තෝනියාව
9. ෆින්ලන්තය
10. ප්‍රංශය
11. ජර්මනිය
12. ග්‍රීසිය
13. හන්ගේරියාව
14. අයර්ලන්තය
15. ඉතාලිය
16. ලැට්වියාව
17. ලිතුවේනියාව
18. ලක්සම්බර්ග්
19. මෝල්ටාව
20. නෙදර්ලන්තය
21. පෝලන්තය
22. පෘතුගාලය
23. රොමේනියාව
24. ස්ලෝවැකියාව
25. ස්ලෝවීනියාව
26. ස්පාඤ්ඤය
27. ස්වීඩනය

(ලකුණු 02 යි)

(ii) යුරෝපා සංගමයේ අරමුණු තුනක් කෙටියෙන් විස්තර කරන්න.

- භාණ්ඩ, සේවා සහ ප්‍රාග්ධනය සඳහා ජනතාවට නිදහස් වෙළඳපොලක් සැපයීම
- වෙළඳාම, කෘෂිකර්මය, ධීවර කටයුතු සහ ප්‍රාදේශීය සංවර්ධනයට අයත් සියළු කටයුතු
ප්‍රතිපත්තියක් යටතේ ක්‍රියාත්මක කිරීම
- සාමාජික රටවල් සඳහා ඒකීය වෙළඳපොළක් තුළ භාවිතයට 'යූරෝ' මුදල් ඒකකය
දීම
- යුරෝපා සංගමයේ පුරවැසියන්ගේ ශුභ සාධනය සහ සාමය ප්‍රවර්ධනය කිරීම
- අභ්‍යන්තර බෙදීම්වලින් තොර වූ නිදහස, ආරක්ෂාව සහ යුක්තිය

- දළ ජාතික නිෂ්පාදිතයට පතල් හා කැණීම් අංශයේ ඉහළ දායකත්වයක් ලැබී තිබෙන බව පසුගිය වසරවල දත්ත ඇසුරෙන් පැහැදිලි වේ.
- ඛනිජ ද්‍රව්‍ය අපනයනවලින් සැලකිය යුතු විදේශ විනිමයක් උපයාගෙන ඇත. මැණික්, මිනිරන්, ඛනිජ වැලි උදාහරණ වේ.
- අනෙක් ඛනිජ සම්පත් මඟින් උපයන විදේශ විනිමය අඩු බව පෙනී යයි. එයට හේතුව විය හැක්කේ අමුද්‍රව්‍ය ලෙස එම ඛනිජ අපනයනය කිරීම යි.

**(ලකුණු 02 x 3 = 06 යි)**

(iv) ඛනිජ සම්පත් උපයෝජනයේ දී ශ්‍රී ලංකාව මුහුණපාන පාරිසරික ගැටලු **තුනක්** නිදසුන් සහිතව පැහැදිලි කරන්න.

**ජල සම්පත කෙරෙහි බලපෑම**

- ඛනිජ සම්පත් නිෂ්කාශණය සිදුවන ආකර කර්මාන්තය නිසා බොහෝ රටවල දක්නට ලැබෙන බරපතළ ගැටලුවක් වන්නේ ජල දූෂණය යි.
- භූමිය කැණීමෙන් ලබා ගන්නා ඛනිජ වර්ග නිසා භූමිය මතුපිට වළවල් නිර්මාණය වේ.
- වර්ෂාපතනය හේතු කොට ගෙන ජලය එම පහත් ස්ථානයන්හි රඳා පවතී. උදා: මැණික් පතල් කැණීම මගින් කළු ගඟ ආශ්‍රිත ව සිදු වන මැණික් ගැරීම නිසා ස්වභාවික ජලවහනයට බලපෑම් ඇති වෙයි.
- ඛනිජ සම්පත් කැණීම හා නිෂ්පාදන කටයුතුවල දී ඉවත ලන ඝන, ද්‍රව අපද්‍රව්‍ය මගින් ජල මූලාශ්‍ර දූෂණයට ලක් වේ.
- ජල දූෂණය හේතුවෙන් සෞඛ්‍ය ගැටලු ද පැන නැගේ.
- ගංගා පිටාර ගැලීම, ලවණ ජලය රට තුලට ගලා ඒම, බීමට ජලය ලබාගන්නා ළිං සිදී යන පරිදි භූගත ජල මට්ටම අඩු වීම ආදි අහිතකර බලපෑම් මේ නිසා ඇති වේ.

**භූමි භායනය කෙරෙහි බලපෑම**

- මැණික් ගැරීම, මිනිරන් හෑරීම ආදිය නිසා විශාල වළවල් මෙන්ම පස් ගොඩ ගැසීම හේතුවෙන් ගොඩැලි නිර්මාණය වීමෙන් භූමිය භායනයට පත් වේ.
- ගංගා ආශ්‍රිත මැණික් ගැරීම හේතු කොට ගෙන ගංගාවන්හි ගමන් මඟ ද වෙනස් වීමෙන් භූ දර්ශනය වෙනස් වේ.
- ඇපටයිට් වැනි ඛනිජ බොහෝ විට උස් බිම් ආශ්‍රිත ව නිර්මාණය වේ. එවැනි ඛනිජ කැණීම නිසා ඒවා ව්‍යාප්ත වී තිබූ ප්‍රදේශයේ විශාල වළවල් නිමාණය වන අතර උස් බිම් ද විනාශ විය හැකි ය.
- කුමන හෝ ආකාරයේ ඛනිජයක් හෑරීම නිසා ශාක පද්ධතියට ද බලපෑමක් සිදු වන හෙයින් පාංශු ඛාදනය උග්‍ර වේ. මේ නිසා ස්වාභාවික භූ දර්ශනය වෙනසකට ලක් වෙමින් ස්වාභාවික සෞන්දර්යය ද විනාශ විය හැකි ය.

(ii) ශ්‍රී ලංකාවේ දක්නට ලැබෙන ප්‍රධාන ඛනිජ සම්පත් තුනක් නම් කර, ඒවායේ භූගෝලීය ව්‍යාප්තිය කෙටියෙන් විස්තර කරන්න.

| ඛනිජ සම්පත් | භූගෝලීය ව්‍යාප්තිය |
|---|---|
| ඛනිජ වැලි Mineral sands | පුල්මොඩ්ඩායි, ත්‍රිකුණාමලයට උතුරින් නිලාවේලි සහ නායරු කුදිරමලේ, පොල්කොටුව, කයිකාවල, මුලතිව්, පුදුවයික්කාට්ටු සහ තේවිකාල්පු |
| මිනිරන් Graphite | බෝගල සහ කහටගහ දැනට ක්‍රියාත්මකවන ප්‍රධාන පතල් දෙකය |
| මැණික් Gemstones | රත්නපුර, මොනරාගල, මාතලේ සහ මාතර දිස්ත්‍රික්කවල |
| මැටි (Kaolin) චීනා මැටි | බොරලැස්ගමුව, මීටියාගොඩ සහ වස්කඩුව |
| බෝල මැටි Boulder clay | දෙදියවෙල |
| ධමනි තිරුවාණා Vein Quartz | කතරගම සහ මඩුල්සිම |
| ලුණු | අලිමංකඩ, පුත්තලම සහ හම්බන්තොට |
| ලිමොනයිට් Limonite (Iron Ore) | රත්නපුර, ගාල්ල, මාතර දිස්ත්‍රික්කවල කඳු මුදුන්වල |
| මැග්නටයිට් Magnetite (Iron Ore) | පුත්තලම දිස්ත්‍රික්කයේ ගෙදර සහ සේරුවිල |
| ඇපටයිට් / Apetite පොස්පේට් / Phospate | එප්පාවල |
| තෝරියනයිට් | රත්නපුර ප්‍රදේශයේ සුළු ප්‍රමාණවලින් පවතී |
| මොනසයිට් | කයිකාවල සහ ඉඳුරුව වෙරළබඩ ප්‍රදේශවල |
| පීට් Peat | මධ්‍යම ප්‍රමාණයෙන් මුතුරාජවෙල වගුරු බිම් ආශ්‍රිතව, සීමිත ප්‍රමාණවලින් දියතලාව බණ්ඩාරවෙල සහ නුවරඑළිය ප්‍රදේශවල |
| ෆෙල්ඩ්ස්පාර් Feldspar | රත්තොට, නාමල්ඔය, කොස්ලන්ද, බලන්ගොඩ |
| සිලිකා වැලි Silica sand | පුත්තලම දිස්ත්‍රික්කයෙහි මාරවිල, නාත්තන්ඩිය, මාදම්පේ සහ අම්පාර සහ යාපන අර්ධද්වීපයෙහි |
| කැල්සයිට් Calcite | බලන්ගොඩ |
| ඩොලමයිට් Dolomite | අනුරාධපුර, හබරණ, මාතලේ, මහනුවර, රත්නපුර, බලන්ගොඩ, බදුල්ල, බිබිලේ, වැලිමඩ, ඇඹිලිපිටිය, හම්බන්තොට, කතරගම |

(නම් කිරීම 01 + ව්‍යාප්තිය 01 = 02 x 3 = 06 යි)

